එම්. ප්ලායම්ස්කොව්ස්කි

# වළාකුළක වාඩිවෙලා





සී/ස, ප්‍රෝග්‍රෙසිව් පබ්ලිෂිං හවුස් (පුද්) සමාගම

# කොකාගේ පාසල

උගත් කොකෙක් කැලෑවේ පුංචි සතුන්ට පාසලක් පටන් ගත්තා.

නොයෙක් වර්ගවල පැටව් පාසලට ආවා. උන් පුටුවල වාඩි වෙලා ගුරුතුමා දෙස බැලුවා.

"දැන් අපි අම්මා නමැති වචනය අකුරු ගලපා කියමු" ගුරුතුමා කීවා. "මා සමග හඬ නගා කියන්නඃ අම්-මා"

පැටව් නිහඬව හිටියා.

ගුරුතුමා බැටළු පැටවා ළඟට විත් මෙහෙම කීවා.

"අම්මා කියල කියන්න...."

බැටළු පැටවා "බැහැහැහැ-බැහැහැහැ" කියල කිව්වා.

එවිට ගුරුතුමා එළු පැටියා ළඟට ආවා "බැහැහැ-බැහැහැ" කියල කියන්න විතරයි එළු පැටියාට පුළුවන් වුණේ.

ගුරුතුමා ඇස් කණ්ණාඩිය හොටේ දමාගෙන, බයවෙලා හිටිය බලු පැටවාට කතා කළා.

"දැන් ඉතින් නුඹ කියපන්"

"හව්-හව්" ගාලා බලු පැටියා බිරුවා.

ගුරුතුමාට තරහ ඇවිත්.

"නුඹට බෑ-බෑ කියලවත් කියන්න බැහැ" කියලා බලු පැටවාට කීවා.

කුකුළු පැටියාගේ වාරය පැමිණියා.

ඌ හීන් හඬින් "කී-කී" කියල කිව්වා.

වී කුරුල්ලා "චික්-චිරික්" කියල කිව්වා.

වසු පැටියා "උම්බෑ-උම්බෑ" කියල කිව්වා.

තාරා පැටියා "ගා-ගා-ගා" කියල කිව්වා.

පූස් පැටියා "ඥාව්-ඥාව්" ගාලා ඇඬුවා.

ඌරු පැටියා "රෑ-රෑ" ගාලා හඬ නැගුවා.

ගුරුතුමා හිස කසලා කල්පනා කළා. පැටවුන්ට හොඳ ලකුණු දුන්නා. මොකද දන්නවද, හැම පැටවෙක් ම ඒ ගොල්ලන්ගෙ බසින් අම්මා කියල කියපු හන්දා.

# තිත් සහ ලප ඇති වුණු හැටි

සතුන් අතරින් වැඩි වේගයෙන් දුවන්න පුළුවන් කාටද කියල දැනගන්න සත්තු කැමති වුණා.

"ඕකත් කල්පනා කරන්න ඕන දෙයක් ද? මට වඩා වේගයෙන් දුවන්න පුළුවන් සතෙක් නැහැ" කියලා කොටියා කිව්වා.

"ඉක්මන් වෙන්න එපා. කිව්වට මදි. ක්‍රියාවෙන් ඔප්පු කරන්න ඕන නෙවද?" කියලා පීරාෆ් ඇහුවා.

"හරියට හරි අපි බලමුකො කවුද ඉක්මනට දුවන්නෙ කියලා" ජගුවරා කිව්වා.

"අපි මෙහෙම කරමු. කොටියාට පුළුවන් නම් ජගුවරාව අල්ලාපුදෙන්. පීරාෆ්ව අල්ලන්න මම උත්සාහ ගන්නම්. ඊට පස්සෙ මාරුවෙන් මාරුවට ඔහොම ඔට්ටුවට දුවමු" කියල මුවා යෝජනා කළා.

"බොහොම හොඳ අදහස. මම කොහොමද ජගුවරා මා පරදවා දුවපු බව දැනගන්නෙ?" කියලා කොටියා ඇහුවා.

"දිනපු සතා පැරදුණු සතාගේ පිටට හෙමින් තට්ටු කරනවා" කියල මුවා කිව්වා.

"තීරණය හරි! පටන් ගනිමු!" කියල පීරාෆ් යෝජනා කළා.

එතකොට කැලෑවට වහන්න පටන් ගත්තා. ඒ මහා වැස්ස හන්දා මහ පොළොව තෙමුණා. හැම තැනම මඩ වළවල් සහ වතුර වළවල්. ඒ වුණාට තරගය නවත්වන්න සත්තු අකැමති වුණා.

දවස් තුනක් තිස්සෙම එකා පස්සේ එකා දුවන්න පටන් ගත්තා. මඩ ගොඩවල, වතුර වළවල්වල වැටි වැටී උන් දුවනවා. එකෙක් අනෙකා ඇල්ලූ බව කියමින් කකුලෙන් අනිකාගේ පිටට හෙමින් තට්ටු කරනවා. ඉතින් ඔය විදිහට පිටට තට්ටු කරමින් මේ ගොල්ල දුවපු හින්දා, උන්ගෙ ඇඟ පුරා ම තිත් සහ ලප ඇති වුණා. කළු පාට තිත් සහ රතුපාට ලප.

වැස්ස නැවතුණා. මඩ වළවල් වියළී ගියා. එහෙත් සතුන්ගේ තිත් සහ ලප මැකිලා ගියේ නැහැ.

එදා තරඟෙට දුවනකොට තැබූ තිත් සහ ලප අද වනතුරුත් එලෙසම පවතිනවා. තරඟෙට දුවන්න කැමති ළමයින් වෙනුවෙන් තමයි මම මේ කතාව ගෙතුවේ.



## දිනන්නේ කවුද?

වතුර වළක් ළඟ ගෙම්බෙකුයි තාරා පැටවකුයි අතර ප්‍රශ්නයක් ඇති වුණා. වතුර වළ හරහා ඉක්මනට පීනන්නේ කවුද?

"මම" තාරා පැටවා කිව්වා.

"මම" ගෙම්බා කිව්වා.

වතුර වළ ළඟ හිටි දෙදෙනා පීනන්න ලෑස්ති වුණා.

"තුනට ගණන් කරන්න ඕන" කියලා තාරා පැටවා කිව්වා.

"මම කැමතියි" කියලා ගෙම්බා එකඟ වුණා.

"මම තුනට ගණන් කරන්න දන්නවා" කියලා ඌ කිව්වා.

"ගා-ගා-ගා" කියලා තාරා පැටවා ගණන් කළා.

"බක-බක-බක" ගාලා ගෙම්බා ගණන් කළා.

ඔහොම ගණන් කරලා දියට පැන්නා. පැනලා පීනන්න පටන් ගත්තා.

තාරා පැටියා අත් අඬුවලින් ඉක්මනට පීනුවා. ඌට වතුර වළේ එහා කෙළවර පේනවා. තාරා පැටියා ප්‍රීති වුණා. ගොඩ ගියා විතරයි, ගෙම්බා තණ බිස්සකට වෙලා විවේක ගන්නා හැටි ඌ දැක්කා.

තාරා පැටියා ගොඩ ඇවිල්ලා අත් අඬු ගසලා වට පිට බැලුවා. ගෙම්බා හිනා වෙලා මෙහෙම කිව්වා.

"මාත් සමග වාද කරන්න ඉස්සෙල්ලා පනින්න ඉගෙන ගන්න ඕන! මම එක පිම්මකින් වතුර වළේ මැදට පැන්නා. ඉතිරි දුර පීනුවා. මින් පසු බොරුවට වාද කරන්න එපා!"

# වීණා වාදනය

පලාපෙත්තකුගේ වීණා වාදනයක් ඇසීමට පාත්ත පැටවෙක් ගියා. පැටියා උගේ මවට ගීත වාදනය ගැන මෙහෙම කිව්වා.

“මහ ලොකු වැඩක්යැ.... මටත් පුළුවනි”

“නුඹට පුළුවනි ද? එහෙනම් වෑයම් කරපන්!” පාත්තයා පැටවාට කිව්වා.

“මට තියෙන්නෙ කකුල් දෙකයි. පලාපෙත්තාට කකුල් හතරක් තියෙනවා. මම එක කකුලකින් වීණාව අල්ලාගෙන අනිත් කකුලෙන් වාදනය කළාම, වේදිකාව උඩ හිටගන්නේ කොහොම ද?” කියලා පැටවා ඇසුවා.



# සපත්තු කවරය

මීයෙක් පරණ ලොකු සපත්තු කවරයක් සොයා ගත්තා. "මේකෙන් මට කිසිම වැඩක් නැහැ" කියල හිතාගත් මීයා යන්න ලෑස්ති වෙනකොට වැලි මීයෙක් එතැනට ආවා.

"සපත්තු කවරය නුඹේ ද?" වැලි මීයා ඇහුවා.

"මගේ තමයි" මීයා කිව්වා.

"මට දෙන්න" වැලි මීයා ඉල්ලුවා.

"මට හොඳ ලොකු මී ගුලක් හාරා දුන්නොත් මම මේ සපත්තු කවරය නුඹට දෙන්නම්" මීයා කිව්වා.

වැලි මීයා ඕක් ගස් මුලක් යට ලොකු සැප පහසු මී ගුලක් හාරලා මීයාට දුන්නා. "සැපෙන් වාසය කරන්න. සපත්තු කවරය මම අරගන්නම්" වැලි මීයා කිව්වා.

මීයා බොහොම සතුටු වෙලා තමාගේ අලුත් ගෙය බලන්න දිව ගියා. වැලි මීයා සපත්තු කවරය ඇදගෙන ගියා. "මේ සපත්තු කවරයෙන් ඇති ප්‍රයෝජනය කුමක් ද?" වැලි මීයා කල්පනා කළා. මේක තණ බිස්සට විසි කර දමන්න ඕන කියලා ඌ සිතනකොට, එතැනට ඉත්තෑවෙක් ආවා.

"සපත්තු කවරය නුඹේ ද?" ඉත්තෑවා ඇසුවා.

"සත්තකින් ම මගේ" වැලි මීයා පිළිතුරු දුන්නා.

"මට දීපන්" ඉත්තෑවා ඉල්ලුවා.

"පහුගිය හේමන්තයේ දී එකතු කළ ඇපල් ගෙඩි දහයක් මට දුන්නොත් මම මේ සපත්තු කවරය නුඹට දෙනවා" වැලි මීයා කිව්වා.

ඇපල් ගෙඩි දහයක් පිටේ ඇති ඉත්තෑකූරුවලට අමුණා ගත් ඉත්තෑවා ඒවා ගෙනැවිත් වැලි මීයාට බාර දුන්නා.

සපත්තු කවරය දිහා බැලූ ඉත්තෑවා "මේකෙන් මට ඇති ප්‍රයෝජනය මොකක් ද?" කියලා කල්පනා කළා. ඉත්තෑකූරුවලින් සපත්තු කවරය සිදුරු කිරීමට ඉත්තෑවා ලෑස්ති වෙනකොට, ගහක අත්තක සිටි ලේනෙක් එතැනට ආවා. බිමට පැන්න ලේනා ඉත්තෑවාගෙන් ප්‍රශ්න කළා.

"සපත්තු කවරය නුඹගෙ ද?"

"වෙන කාගෙද?"

"නුඹ කැමති නම් මට දීපන්!" ලේනා ඉල්ලුවා.

"දේවදාරු ගහකින් ලොකු ගෙඩියක් කඩා ගෙනැවිත් මට දෙන්න. එතකොට මම මේ සපත්තු කවරය දෙන්නම්" ඉත්තෑවා ලේනාට කිව්වා.

ලේනා දේවදාරු ගහක තිබුණු ලොකුම ගෙඩිය කඩාගෙන විත් ඉත්තෑවාට දුන්නා.

"ඔන්න හරිම හපනෙක්. දැන් ඉතින් හනිකට මේ ගෙඩිය ඇති ඇට ටික පොතු ඇරල මට දෙන්න. ඊට පස්සෙ සපත්තු කවරය අරගන්න" ඉත්තෑවා කිව්වා.

ලේනා ඉක්මනට දේවදාරු ගෙඩියේ ඇට ටික සුද්ද කරලා ඉත්තෑවාට දුන්නා. බොහොම සතුටු වුණු ඉත්තෑවා දේවදාරු ඇටත් අරගෙන පඳුරකට මුවා වෙලා බලාගෙන හිටියා. ලේනා සපත්තු කවරයෙන් මොනවා කරනවද කියලා.

ලේනා සපත්තු කවරයේ සිදුරු කොළවලින් වසා දැම්මා. බොහොම කුඩා අත්තකින් කදක් හදලා දෙපැත්තට කොට්ටන් ලෙලි දෙකක් එල්ලුවා. කදත් කර තියාගෙන ලේනා ළඟ ඇති දිය පාරකට ගිහිල්ලා කොට්ටන් ලෙලිවලට වතුර පුරවාගෙන ඇවිත් සපත්තු කවරයට වත් කළා. ඔය විදිහට සපත්තු කවරය පිරෙන තුරු වතුර වත් කළා. තම ලේන් පැටවාව නාවන්නයි වතුර ගෙනාවෙ. ලේන් පැටවා බොහොම ආසාවෙන් වතුර පිරි සපත්තු කවරයට බැහැලා නානවා, පීනනවා, සෙල්ලම් කරනවා. හිරු රැස් හන්දා වතුර දිලිසෙනවා.

මීයා ලේනා ළඟට දුවගෙන, දුවගෙන ඇවිල්ලා මෙහෙම කිව්වා:

"මගේ සපත්තු කවරය දීපන්. මම නුඹට මගේ ලස්සන මී ගුල දෙන්නම්"

වැලි මීයාත් ලේනා ළඟට දුවගෙන දුවගෙන ආවා.

"ලේනෝ! ලේනෝ! සපත්තු කවරය මට දීපන්! මම නුඹට ඇපල් ගෙඩි දහයක් දෙන්නම්" වැලි මීයා කිව්වා.

පඳුරක් අස්සෙ හිටිය ඉත්තෑවා ලේනා ළඟට ඇවිත් අඬන්න වගේ සැරසුණා.

"ලේනෝ! ලේනෝ! සපත්තු කවරය මට දෙන්න! මම නුඹට පලතුරුයි ඇට ජාති ගොඩකුයි තෑගි කරන්නම්"

ලේනා මේ ගොල්ලන්ගෙ කතා අහගෙන ඉඳල මෙහෙම පිළිතුරු දුන්නා.

"මම නුඹලාගෙන් කිසිවක් ගත්තෙ නැහැ. මම ලෝබියක් නොවෙයි. නුඹලාගෙ ළමයින්ව මෙහාට ගෙනැවිත් නාවපල්ලා!"

එතකොට මීයාටයි, වැලි මීයාටයි, ඉත්තෑවටයි ලැජ්ජා හිතුණා. ලේනා බොහොම කරුණාවන්ත සතකු බව උන්ට දැනුණා.



# මා දුටු සිහිනය

නිල්වන් අහසට නැගලා
වළාකුළක වාඩි වෙලා
කුරුල්ලන්ගෙ ගීත අසා
පොතක් කියවමින් හිටියා
අහසේ සිට උඩ බැලුවා
රන්වන් තරු දිලිසෙනවා
අහසේ සිට බිම බැලුවා
කඳු සහ ගංගා දුටුවා



# නළාව

සීයා මට හදල දුන්න
ලස්සන මගෙ බටනළාව
සුළං හමන හැටි වයන්න
ගඟක් ගලන හැටි වයන්න
සැළලිහිණිය වගෙ ගයන්න
දක්සයි මගෙ බටනළාව.

බටනළාව වයනවා
කැලෑ සත්තු නටනවා.

සමනලයෝ පලා ගිරව්
ලස්සන ගී ගයනවා.

හා පැටවුන් උඩ පනිනව
ලේනා ටිං ටිං ගානව
වස්සා උම්බෑ කියනව
බස්සා නිහඬව ඉන්නව



# මී පැණි

මී පැණි කන්නට ආසා හිතිලා
වලස් පැටිය ගහකඩ බඩ ගෑවා
මී මැස්සෝ කෝප වෙලා
ආවා රැං රැං ගාලා
වලස් පැටිය බයවුණා
වළකට පැන සැඟවුණා



# ඉත්තෑ පැටියා

ආයුබෝවන් ඉත්තෑ පැටියා
උදෑසනින් කොහි යනවද?
වැහි නොබලා කුඩෙත් අරන්
යනවා පලතුරු බෙදන්න.

## පරෙවියො

සුදු පරෙවියො උදෑසනින්
අහසට නැග පියාඹනව
හිම කාලෙට දිය මිදිලා
හිම වැස්සට ගඟ වැසිලා

පිපාසයට දිය බොන්නට
තැනක් සොයන පරෙවියන්ට
මාළු බාන පුංචි දීමා
සිදුරක් සාදා දුන්නා.





## කුකුළා

අපේ ගමේ රතු කුකුළා
ගොවියගෙ වැට උඩ ලැගලා
හිරු නැග එන්නටත් කලින්
හඬලයි අත්තටු ගසමින්

උගෙ කරමල රතු පාටයි
වලිගය දේදුනු පාටයි

